# ජේසු ගැන බලන්ගොඩ ආනන්ද මෛත්‍රෙය නාහිමියන් පැවසූ කරුණු

(iskoola pota font එකේ දෝෂයක් නිසා 'ර්' අකුර සෑම විටම පසුපසින් ඇති අකුරේ පිටුපසට ගොස් ඇති බව කරුණාවෙන් සලකන්න)

නාඩි වාක්‍යයේ තියෙන්නේ ජේසුතුමා යවන ලෝකයේ උපන් කෙනෙක් කියලයි. යවන ලෝකය කියන්නේ ඔය පලස්තීනය ආදී වූ බටහිර දිග ප්‍රදේශ. ඒ යවන ලෝකයේ වැඩි ධනවත් නොවූ එක්තරා මධ්‍යම තත්ත්වයේ පවුලක උපන් බුද්ධිමත් දරුවෙකි. වයස අවුරුදු දොළහේදී මේ බුද්ධිමත් ළමයාට තමන්ගේ ආගමේ මූලය හොයන්න අදහසක් පහළ වුණා. මේ පිළිබඳ කරුණු සොයමින් සිට ගෙදරින් පැනලා තමන්ගේ රටේ සිට ආසියාකරයට එන තවලම්කාරයන් කණ්ඩායමක් සමග ආවා. මේ එන අතර මග රටවල භාෂා ශාස්ත්‍ර ඉගෙන ගනිමින් විස්තර තොරතුරු සොයා බලමින් ඉන්දියාවට ආවා.

ඉන්දියාවට ඇවිත් ඉගෙන ගනිමින් ඉන්දියාවේ එවකට පැවතුණු ආගම් පිළිබඳව හැදෑරීමක් ද කළා. තරුණ වයසට පත්වෙලා ඉන්න අවස්ථාවේ එයාට බෞද්ධ භික්ෂූන් වහන්සේ නමක් මුණගැසුණා. ඒ භික්ෂූන් වහන්සේ හිමාලයේ 'හිමිස්' ආරාමයට වඩිමිනුයි සිටියේ.

ඉන්දියාවෙ බටහිර ටිබෙට් රටේ ලාඩාක් ප්‍රදේශයේයි ඔය හිමිස් ආරාමය තියෙන්නේ. ඒ ආරාමය තවමත් තියෙනවා. එය අවුරුදු දෙදහසක් පරණයි. ඒ ආරාමයට වඩිමින් සිටිය අර බෞද්ධ භික්ෂූන් වහන්සේගෙන් ජේසු තරුණයා බුද්ධ ධමර්ය පිළිබඳව ඇහුවා. ඒ හාමුදුරුවන් උත්තර දුන්නා. කරුණු පැහැදිලි කළා. 'මා මෙච්චර කල් සොයමින් ඇවිද්ද දේ මට හමුවුණා. මා ඔබ වහන්සේගේ ගෝලයකු කරගන්න' කියා තරුණයා ඉල්ලීමක් කළා. ඔහු උන්වහන්සේ සමග හිමාලයේ හිමිස් ආරාමයට ගියා.

ඒ හාමුදුරුවෝ සවර්ස්ථවාදී ථේරවාදී නිකායට අයත් කෙනෙක්. මේ ඉලන්දාරියා ඒ ආරාමයේ නැවතිලා යෝග භාවනා හොඳට පුරුදු කළා. ධමර්ය ඉගෙන ගත්තා. වයස අවුරුදු විසි නවයේදී ජේසු තරුණයා තමන්ගේ රටට ආපහු ගියා. ඒ රටට ගිහින් ජනතාවට ධමර්ය දේශනා කරන්න පටන් ගත්තා. මේ දේශනා අහන්න ජනයා ඇදෙන්න පටන් ගත්තා. මේ දේශනාවලට ජනයා වැඩි වැඩියෙන් ඇදෙන විට, ජනප්‍රිය වන විට යුදෙව් පූජකවරුන් කුමන්ත්‍රණ කර හිරිහැර කරන්න සූදානම් වුණා. යුදෙව් ආගම නැතිවෙයි කියා බියෙන් එතුමාට හිරිහැර කරන්නට සැරසුණා.

ජේසුතුමා ඉන්දියාවට ආ පුවත ගැන පරීක්ෂණ පැවැත්වූ අයගේ විස්තර වාතර්ා බොහෝ තියෙනවා. මෑතකදී එංගලන්තයේ පිටවුන 'ජීසස් ලිව්ස් ඉන් ඉන්ඩියා' ('Jesus lives in India' -H. Kresten) නමැති ග්‍රන්ථයේ බොහෝ විස්තර තිබෙනවා. මේ පොත ඉතා ඉක්මනින් විකිණී ගොස් දෙවැනි සංස්කරණයත් පළවුණා.

මරිය මවුතුමියගේ පුත්‍ර වූ ජේසුතුමා නම් බෞද්ධ භික්ෂුවක්, එතුමාගේ දේශනවලට සෙනඟ ඇදෙන විට ජනප්‍රිය වන විට යුදෙව් පූජකවරුන් කරදර හිරිහැර කළා, ඒ නිසා ආපසු ඉන්දියාවට ආවාය කියා නාඩි වාක්‍යයේ තියෙනවා. නාඩි වාක්‍යයෙන් ගත් විස්තරය ලියා දුන් අයගේ අත් අකුරු සමග 'රසවාහිනී' සඟරාවේත් පසුගිය කාලයේ විස්තර පළ වුණා.

හැබැයි, මටත් මීට සම්බන්ධ එක්තරා ප්‍රවෘත්තියක් අත්දැකීමෙන් කියන්න පුළුවන්. 1981 මම ගියා නේපාලයට. ලුම්බිණියට ගිහින් ඉන්න කොට, ලුම්බිණියට බස් එකකින් වන්දනා පිරිසක් ආවා. ඒ පිරිස අතරේ ඉස්සර ලංකාවේ සිටි මගේ මිත්‍ර හාමුදුරුනමක් සිටියා. මා දැකල ඇවිත් ඒ හිමියන් කතා කළා. මට කතා කළා 'අප සමග යමු නේපාලයේ කත්මණ්ඩුවට' කියා. මා කවරදාවත් කත්මණ්ඩුවට ගිහින් නැහැ. ඉතින් ඒ නිසා 'හොඳයි මමත් එන්නම්' කියා ඒ කණ්ඩායමත් සමග ගියා. මේ කණ්ඩායමට එකතුවෙලා ගමනේ මඳක් දුර යනකොට හිමාලය හොඳට පේනවා. ඒ හරියේදී තරමක කන්දක් පේනවා. ටිකක් එපිට විශේෂ කුඩා පූජාස්ථානයක් තියෙනවා. බස්රියේ සිටි මහත්මයෙක් මගෙන් ඇහුවා 'අර පෙනෙන ස්ථානය ගැන  දන්නවා ද?' කියා. මා කවරදාවත් ඇවිත් නැති නිසා 'දන්නේ නැහැ' කීවා. ඒ මහත්මයා කීවා 'ඔන්න බෞද්ධ වන්දනීය ස්ථානයක්. ජේසුතුමා කලක් මේ ප්‍රදේශයේ ගැවසිලා තියෙනවා. මේ ස්ථානයේ භාවනා කරමින් ඉඳලා තියෙනවා. එතුමාට ගෞරවයක් වශයෙන් එතැන වන්දනීය ස්ථානයක් කරගෙන තියෙනවා'ය කියා.

ඉතින්, ජේසුතුමා පිළිබඳ විවිධ මත තියෙනවා. රුසියන් ජාතික නැටවිච් (Natowitch) කියලා මහත්මයෙකු එක්දහස් අටසිය ගණන්වල පොතක් පළ කළා 'අන්නෝන් ලයිෆ් ඔෆ් ක්‍රයිස්ට්' (Unknown life of Crist) නමින්. මේ ළඟදිත් ඒ පොත ඇමෙරිකාවේ මුද්‍රණය කොට පළ කරවා තිබෙනවා. ජේසු නමින් එක්තරා කෙනෙක් ඔය ඊශ්‍රායල් වරුන්ගේ ප්‍රදේශයේ ඉඳලා තවලම්කාරයන් එක්ක ඉන්දියාවට ආවා. ඉන්දියාවේ බටහිර ටිබෙට් රටේ ලාඩාක් ප්‍රදේශයේ හිමිස් ආරාමයේ නැවතිලා කලක් බුද්ධ ධර්මය ඉගෙන ගත්තා. ඒ ඇත්තා බෞද්ධ භික්ෂුවක් වශයෙන් ඉඳලා වයස අවුරුදු විසි නවය විතර වූ කල පිටත්වෙලා තියෙනවා කියලා ප්‍රවෘත්තියක් ඒ පොතේ තියෙනවා. හැබැයි, ජේසු නමින් 'එක්තරා කෙනෙක්' කියන නිසා ජේසු නමින් කීපදෙනෙක් ඉඳලා තියෙනවා කියලා මට හිතෙනවා.

හිමිස් ආරාමයේ තිබුණු ලියවිලි වගයක් අනුවයි ඒ නැටවිච් මහත්මයා පොත ලියලා තියෙන්නේ. මේ කතාව ඇත්තක්ද කියලා බලන්න කීප දෙනෙක් ගිහින් තියෙනවා. ස්වාමි අභේදානන්ද ගිහින් පරීක්ෂා කර බලා 'මේ සිද්ධිය ඇත්තක්. එහෙම කෙනෙක් ඇවිල්ලා ඉඳලා තියෙනවා' කියලා පිළිගෙන තියෙනවා.

තවත් රෝරික් (Roric) නම් මහත්මයෙකු 'හාට් ඔෆ් ඒෂියා' (Heart of Asia) කියලා පොතක් ලියලා. රෝරික් මහතා රට රටවල ඇවිදපු, ටිබෙට් ආදී භාෂා ඉගෙනුම ලැබූ උගතෙක්. ඔහුත් ඒ පොතේ සඳහන්කර තියෙනවා ජේසු නමින් කෙනෙක් ලාඩාක් රටට ඇවිත් ඉඳලා තියෙනවා කියා.

ඒ වගේම පින්ලන්තයේ මහාචාර්යවරයෙකු මේ වගේම විස්තර සහිත පොතක් පළ කළා 'කිං ඔෆ් ජීව්ස්' (King of Jews) නමින්. 'ජේසුතුමා බෞද්ධයෙක්, ජොහානිස් ක්‍රයිස්ට් යුදෙව්වෙක්. ජේසුයි ජොහානිසුයි දෙන්නෙක්. කුරුසිය තියල ඇණ ගැහුවේ ජොහානිස් ක්‍රයිස්ට්' කියලා 'කිං ඔෆ් ජීව්ස්' පොතේ තියෙනවා. ක්‍රයිස්ට්ගේ මව සලෝමී, පියා පන්දිරා කියලා එහි සඳහන් වෙනවා. ඒ පොත ඊට පස්සේ ලංකාවේ මුද්‍රණය කළා. පොත් සාප්පු වලට දුන්නේ නැහැ. එක්තරා කණ්ඩායමක් ඒ පොත් මිලට ගෙන විනාශ කළ නිසා. එයින් පොත් සුළු ප්‍රමාණයක් කොළඹ මරදානේ ප්‍රධානසර පිරිවෙනට භාරදී තිබුණා

ඇමෙරිකාවේ 'ලොස්ට් ලයිෆ් ඔෆ් ජීසස්' (Lost life of Jesus) හා 'ලොස්ට් ටීචිං ඔෆ් ජීසස්' ( Lost teaching of Jesus) කියා පොත් දෙකක් මුද්‍රණය කර තිබෙනවා. ඒ පොත් වලත් ඒ වගේම විස්තරයක් තියෙනවා. ඊශ්‍රායල් වරුන්ගේ ප්‍රදේශයේ ජේසු නමින් එක්තරා කෙනෙකු සිටිය බවත්, තවලම්කාරයන් සමඟ ඉන්දියාවට පැමිණි බවත් ඒ පොත් වලත් සඳහන් වෙනවා.

මළ මුහුද සමීපයේ තිබී පැරැණි ලියැවිලි සමූහයක් පහුගිය කාලයේ සොයාගෙන තියෙනවා. අවුරුදු දෙදාහත් දාහත් අතර කාලයේ ඉතාමත් වැදගත් තොරතුරු සඳහන් වී තියෙන එම සටහන්වලින් ආචාර්යවරුන් දෙදෙනකු හිටිය බව පැහැදිලි වෙනවා.

තියොසොෆි (පරම විඥාණාථර්) වාදීන් කියන්නේ ජෙරුසලම් වල දේශනා කරමින් කල් ගත කළ ජේසුතුමා මාස්ටර් වරුන් අතර 'මාස්ටර් ජීසස්' නමින් ඉන්නවාය කියා. ඔය තියොසොෆිකල් වරුන් සමඟ සම්බන්ධ 'ලිබරල් කැතලික් චර්ච්' නමින් කතෝලික සභාවක් තියෙනවා. ඒ කාලේ ඒ 'ලිබරල් කැතලික් චර්ච්' එකේ හිටපු බිෂොප් තුමාගේ නම 'ලේඩ් බීටර්'. ලේඩ් බීටර් ගේ පොත් වල මාස්ටර් වරුන් පිළිබඳ ලොකු විස්තරයක් තියෙනවා. 'ලිබරල් කැතලික් චර්ච්' මතය 'ක්‍රයිස්ට්' කියන්නේ මෛත්‍රී බෝධිසත්ත්වයෝ කියලයි. ඒ අය කියනවා ක්‍රයිස්ට් මනුස්ස ලෝකෙට ආවේ නැහැ, දෙව්ලොව සිටින ක්‍රයිස්ට් තුමාගේ හැඟීම් ජේසුතුමා නමින් සිටිය ආචාර්යවරයා මගින් මිනිසුන්ට දුන්නාය කියා. ජේසුතුමා වෙනම කෙනෙක්, ක්‍රයිස්ට් වෙනම කෙනෙක්. ක්‍රයිස්ට්ගේ හැඟීම් ජේසුතුමා මගින් ලෝකයට දුන් නිසා ජේසුතුමා 'ජීසස් ක්‍රයිස්ට්' (ජේසු ක්‍රිස්තුස්) නමින් ප්‍රසිද්ධ වුණාය කියා. ඒ ලිබරල් කැතලික් චර්ච් මතය.

මේ ඉහත කීවේ මගේ මතය නෙවෙයි. ඒ ඒ අය එතුමා ගැන කී දේ.

(උපුටා ගැනීම: මතුගම මහින්ද විජේතිලකයන්ගේ 'බලන්ගොඩ හාමුදුරුවෝ' පොතිනි)